ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

# ශ්‍රී ලංකා නීති විද්‍යාලයේ 2016 අධ්‍යයන වර්ෂයට සිසුන් ඇතුළත්කර ගැනීම සඳහා පවත්වනු ලබන තරග විභාගය - 2015 සැප්තැම්බර්

## (01) භාෂා හැකියාව (සිංහල)

පැ තුනයි

### විභාග අපේක්ෂකයින්ට උපදෙස්

ඉතා වැදගත් :




* පිළිතුරු සැපයීමේ දී පහත සඳහන් ආකාරයට ඉලක්කම් ලියා නැති උත්තර පත්‍ර ඇගයීමට ලක් නොකෙරේ.

1 2 3 4

ඔබේ විභාග අංකය මෙහි ද තුන්වන පිටුවෙහි ඇති තිත් ඉර මත ද ලියන්න.

.....................................

නිවැරදි බවට නිරීක්ෂකගේ කෙටි අත්සන

.....................................

වැදගත් :

* මෙම ප්‍රශ්න පත්‍රය පිටු 08 කින් හා ප්‍රශ්න 38 කින් යුක්ත වේ.
* පිළිතුරු ලිවීමට පෙර ප්‍රශ්න පත්‍රය පිටු අංක අනුව සකසා ගන්න.
* ප්‍රශ්න සියල්ලට ම පිළිතුරු මෙම පත්‍රයේ ම සපයන්න.
* මෙම ප්‍රශ්න පත්‍රයට නියමිත කාලය පැය තුනකි.
* ශාලාධිපතිවරයා නිවේදනය කළ පසු පිළිතුරු ලිවීම ආරම්භ කරන්න.
* දී ඇති උපදෙස් අනුව ම ප්‍රශ්නවලට පිළිතුරු සැපයිය යුතු වන අතර උපදෙස්වලට පටහැනිව සපයන පිළිතුරු සඳහා ලකුණු දෙනු නොලැබේ.
* ඔබට සැපයීමට පිළිතුරු නැතත් මෙම පිළිතුරු පත ශාලාධිපතිට භාර දිය යුතුය.
* ඔබේ පිළිතුරු පැහැදිලි ලෙස නිල් හෝ කළු පෑනෙන් පමණක් ලියන්න. පැන්සල් පාවිච්චි නොකරන්න.
* මෙම ප්‍රශ්න පත්‍රය විභාග ශාලාවෙන් පිටතට ගෙන යාම හෝ එහි ඡායා පිටපත් ගැනීම හෝ වරදකි.
* අපැහැදිලි ඉලක්කම්, අපැහැදිලි අත් අකුරු සහිත, මකන දියර භාවිත කරන ලද සහ පැන්සලෙන් පිළිතුරු සපයන ලද පිළිතුරු පත්‍ර ඇගයීමට ලක් නොකෙරේ.

පරීක්ෂකගේ ප්‍රයෝජනය සඳහා පමණි

| පිටුව | ප්‍රශ්න අංකය | ලැබූ ලකුණු |
|---|---|---|
| 2 | 1 – 12 | |
| 3 | 13 – 25 | |
| 4 | 26 – 35 | |
| 4 - 5 | 36 | |
| 5 - 6 | 37 | |
| 7 - 8 | 38 | |
| එකතුව | | |

අවසාන ලකුණු

| | |
|---|---|
| ඉලක්කමෙන් | |
| අකුරින් | |

| | |
|---|---|
| උත්තර පත්‍ර පරීක්ෂක | |
| ලකුණු පරීක්ෂා කළේ | |

[ 2 වැනි පිටුව බලන්න.

● අංක **1** සිට **3** තෙක් එක් එක් ප්‍රශ්නය යටතේ දී ඇති පද අතුරින් එක් පදයක පමණක් අක්ෂර වින්‍යාසය වැරදි ය. එම පදය තෝරා, ඊට අදාළ වරණයෙහි අංකය ප්‍රශ්නය ඉදිරියේ දී ඇති තිත් ඉර මත ලියන්න.

1. (1) කුම්බස්ථලය (2) කෝෂ්ඨාගාර (3) ගවේෂණය (4) පරිභ්‍රමණය (.........)

2. (1) ජනශ්‍රැතිය (2) දන්තෞෂ්ඨජ (3) ථූපවංශය (4) නිරුපද්‍රැත (.........)

3. (1) පුනරාවර්තන (2) ප්‍රත්‍යාවලෝකනය (3) අවස්ථාවෝචිත (4) ඡායාස්ථිති (.........)

*(ලකුණු 03 යි)*

● අංක **4** සිට **6** තෙක් එක් එක් ප්‍රශ්නය යටතේ දී ඇති වචන අකාරාදි පිළිවෙළට සකස් කළ විට නිවැරදිව දැක්වෙන අනුපිළිවෙළ තෝරා, ඊට අදාළ වරණයෙහි අංකය ප්‍රශ්නය ඉදිරියේ දී ඇති තිත් ඉර මත ලියන්න.

4. (අ) තාම්‍රපර්ණී (ආ) තාර්කික (ඉ) තාමරස (ඊ) තාණ්ඩව
(1) අ, ආ, ඉ, ඊ (2) ඊ, ඉ, අ, ආ (3) ඉ, ඊ, ආ, අ (4) ඉ, අ, ආ, ඊ (.........)

5. (අ) නෛතික (ආ) නෛපුණ්‍ය (ඉ) නිර්නාමික (ඊ) නෘත්‍යාගාරය
(1) අ, ඊ, ඉ, ආ (2) ඉ, ආ, අ, ඊ (3) ඉ, ඊ, අ, ආ (4) ආ, අ, ඊ, ඉ (.........)

6. (අ) පරිකල්පනය (ආ) පර්යේෂණය (ඉ) පරිශ්‍රමය (ඊ) පර්යන්ත
(1) අ, ඉ, ඊ, ආ (2) ඉ, අ, ආ, ඊ (3) ඊ, ඉ, අ, ආ (4) ඊ, ආ, ඉ, අ (.........)

*(ලකුණු 03 යි)*

● අංක **7** සිට **9** තෙක් එක් එක් ප්‍රශ්නය යටතේ දී ඇති පද අතුරින් නිවැරදිව විසන්ධි කර නොමැති පදය තෝරා, ඊට අදාළ වරණයෙහි අංකය ප්‍රශ්නය ඉදිරියේ දී ඇති තිත් ඉර මත ලියන්න.

7. (1) ඒකාධිකාරය = ඒක + අධිකාරය (2) කථෝපකථන = කථා + උපකථන
(3) දිග්විජය = දිග් + විජය (4) දෙවුර = දෙ + උර (.........)

8. (1) අන්වර්ථ = අනු + අර්ථ (2) තුනුවග = තුනු + වග
(3) අභ්‍යවකාශ = අභි + අවකාශ (4) උච්චාවචන = උච්ච + අවචන (.........)

9. (1) දුශ්චරිත = දුශ් + චරිත (2) මහෝත්සව = මහා + උත්සව
(3) විද්‍යුල්ලතා = විද්‍යුත් + ලතා (4) මෑත = මේ + අත (.........)

*(ලකුණු 03 යි)*

● අංක **10** ප්‍රශ්නයට නිවැරදි පිළිතුර තෝරා, ඊට අදාළ වරණයෙහි අංකය ප්‍රශ්නය ඉදිරියේ දී ඇති තිත් ඉර මත ලියන්න.

10. අකුරු ගළපන ලද කල්හි අර්ථවත් වචනයක් සෑදෙන පිළිතුර කුමක් ද?
(1) පදානතාවර (2) නටපාත්ජබි (3) හවශේෂමාස් (4) මුල්ලිතකද (.........)

*(ලකුණු 01 යි)*

● අංක **11** සිට **15** තෙක් එක් එක් ප්‍රශ්නය යටතේ දී ඇති වාක්‍යය සදොස් වේ නම්, නිදොස් කොට සම්පූර්ණ වාක්‍යයම තිත් ඉර මත නැවත ලියන්න. නිදොස් වේ නම්, 'නිවැරදියි' යන්න පමණක් ලියන්න.

11. මහපාරේ පිස්සෙක් මෙන් හැසිරෙන තරුණයෙක් ඇත.

..................................................................................................................

12. බැංකු ආරක්ෂක නිලධාරීන් විසින් කොල්ලකරුවන් පලවා හරින ලදහ.

..................................................................................................................

13. විශ්ව විද්‍යාල ශිෂ්‍යයන් පන්තිවලට පැමිණෙත් නම්, ආචාර්යවරු ඉගැන්වීමට කැමැත්තෙන් සිටිති.

........................................................................................................................

14. මේ නිවෙස්වල සිටින්නන් කවුරු දැයි පොලිස් නිලධාරීහු අසල්වැසියන්ගෙන් විමසූහ.

........................................................................................................................

15. අත්‍යවශ්‍ය භාණ්ඩ මිල පහත හෙළන ලෙස ඉල්ලා මහජනතාව උද්ඝෝෂණය කළහ යි ගුවන්විදුලියෙන් ප්‍රචාරය විය.

........................................................................................................................

*(ලකුණු 05 යි)*

● අංක **16** සිට **20** තෙක් එක් එක් ප්‍රශ්නය යටතේ දී ඇති පද අතුරින් නොගැළපෙන පදය තෝරා, ඊට අදාළ වරණයෙහි අංකය ප්‍රශ්නය ඉදිරියේ දී ඇති තිත් ඉර මත ලියන්න.

16. (1) තුරු (2) ගස් (3) තූර්යය (4) තීරය (.........)

17. (1) රතිය (2) රාගය (3) ස්නේහය (4) කාමය (.........)

18. (1) තිත් (2) ලප (3) කොමාව (4) තෘප්තිය (.........)

19. (1) දද (2) පතාක (3) කොඩි (4) මෝඩ (.........)

20. (1) තළා (2) දහ (3) විල (4) දිශා (.........)

*(ලකුණු 05 යි)*

● අංක **21** සිට **25** තෙක් එක් එක් ප්‍රශ්නය යටතේ මුලින් දී ඇති තද කළු අකුරින් මුද්‍රිත යෙදුමට සමාන තේරුම් දෙන වාක්‍යාංශය හෝ පදය හෝ තෝරා, ඊට අදාළ වරණයෙහි අංකය ප්‍රශ්නය ඉදිරියේ දී ඇති තිත් ඉර මත ලියන්න.

21. **අකලට හටගත් ගෙඩිය**
(1) දිළින්දෙකුට ලැබුණු හදිසි ලාභය (2) අවසාන කාලයේ ඇති වූ පිළිකාව
(3) අවාසනාවන්ත කාලයක උදාව (4) නුසුදුස්සෙකුට ලැබෙන උසස් වීම (.........)

22. **අත දීලා දත නියවීම**
(1) බොරු හිතවත්කමක් පෑම
(2) අව්‍යාජ මිත්‍රත්වයක් පෙන්වීම
(3) තම වස්තුව අනුන්ට දී වෙන අයගෙන් ලබා ගන්නට යාම
(4) අනුන්ට සමච්චල් කිරීම (.........)

23. **බත්පතට වැලි දමා ගැනීම**
(1) දැඩි කෝපයට පත් වීම (2) ප්‍රයෝජනවත් දෙයක් නැති කර ගැනීම
(3) අනුන්ගේ උදහසට ලක් වීම (4) අපල කාලයක් උදා වීම (.........)

24. **අං මැදීම**
(1) පොරට සැරසීම (2) අං ඇදිල්ල ක්‍රීඩාවට සූදානම් වීම
(3) අංවල තෙල් ගා ඔපමට්ටම් කිරීම (4) අං දෙකක් එකිනෙකට ඇතිල්ලීම (.........)

25. **ඇල්වතුරෙන් බෙල්ල කැපීම**
(1) සුළු අනතුරක් සිදු කිරීම (2) නිෂ්ඵල කාර්යයක යෙදීම
(3) මිතුරෙකු සේ පෙන්වා බලවත් විපත් කිරීම (4) සියුම් උගුලක් ඇටවීම (.........)

*(ලකුණු 05 යි)*

[ 4 වැනි පිටුව බලන්න.

● අංක **26** සිට **30** තෙක් එක් එක් ප්‍රශ්නය යටතේ මුලින් දී ඇති තද කළු අකුරින් මුද්‍රිත පදයට සමානාර්ථයක් නොදෙන පදය තෝරා, ඊට අදාළ වරණයෙහි අංකය ප්‍රශ්නය ඉදිරියේ දී ඇති තිත් ඉර මත ලියන්න.

26. චන්ද්‍රයා
(1) නිසයුරු (2) සිසි (3) දිනිඳු (4) උඩුපු (.........)

27. ශිව දෙවි
(1) ඊශ්වර (2) බරනෙත (3) තිසුලවි (4) උමාපති (.........)

28. ගෘහය
(1) නිවාසය (2) මන්දිරය (3) ආලය (4) විමානය (.........)

29. පෙරදිග
(1) නැගෙනහිර (2) ප්‍රතීචීන (3) ප්‍රාචීන (4) උදීච්‍ය (.........)

30. ගජ
(1) අලි (2) නාග (3) වරණ (4) හය (.........)
*(ලකුණු 05 යි)*

● අංක **31** සිට **35** තෙක් එක් එක් ප්‍රශ්නය යටතේ දී ඇති එක් එක් වාක්‍යාංශයෙහි නිවැරදි අර්ථය දෙන තනි යෙදුම තෝරා, ඊට අදාළ වරණයෙහි අංකය ප්‍රශ්නය ඉදිරියේ දී ඇති තිත් ඉර මත ලියන්න.

31. පර්යේෂණ ග්‍රන්ථයක අවසානයේ දී අතිරේක තොරතුරු ඇතුළත් කෙරෙන කොටස
(1) සූචිය (2) පරිශිෂ්ටය (3) අධෝලිපිය (4) අකාරාදිය (.........)

32. බටහිර හා උතුර අතර පවත්නා අනුදිශාව
(1) ගිනිකොන (2) වයඹ (3) නිරිත (4) ඊසාන (.........)

33. තම රටට විරුද්ධව ක්‍රියා කරන්නා
(1) ජාතිද්‍රෝහියා (2) දේශද්‍රෝහියා (3) ජාතිභ්‍රෂ්ටයා (4) දේශත්‍යාගියා (.........)

34. දීර්ඝ කාලයක් මුළුල්ලෙහි පැවතීම
(1) චිරපරිචය (2) චිරරාත්‍රඥ (3) චිරස්ථිති (4) චිරන්තන (.........)

35. සිතෙහි හට ගන්නා කැළඹිලිය
(1) මනස්තාපය (2) වික්ෂේපය (3) ආතතිය (4) මනෝභාවය (.........)
*(ලකුණු 05 යි)*

36. පහත දැක්වෙන පාඨය කියවා අසා ඇති ප්‍රශ්නවලට කෙටි පිළිතුරු සපයන්න.

මිනිසාගේ මූලික නිදහසට සහ ආරක්ෂාවට අදාළ වූ අයිතිවාසිකම් සිවිල් සහ දේශපාලන අයිතිවාසිකම් වේ. වධ හිංසාවලින් නිදහස, අත්තනෝමතික ලෙස අත්අඩංගුවට ගැනීමෙන් සහ රඳවා ගැනීමෙන් නිදහස, භාෂණයේ, සිතීමේ සහ ආගමික නිදහස සහ සර්ව සාධාරණත්වයේ අයිතිවාසිකම යන ඒවා ඊට ඇතුළත් වේ. ප්‍රථමයෙන් පිළිගත් සහ විශේෂයෙන්ම ඇමෙරිකානු සහ ප්‍රංශ ප්‍රකාශනවලට අන්තර්ගත කරන ලද අයිතිවාසිකම් ඒවා වූ නිසා සමහර විට මෙම අයිතිවාසිකම් පළමුවන පරම්පරාවේ අයිතිවාසිකම් ලෙස හඳුන්වනු ලැබේ. මේ ලේඛන සඳහා වූ ආසන්නතම පෙලඹවීම ඇමෙරිකානු සහ ප්‍රංශ විප්ලවයන්ගෙන් පිළිබිඹු කෙරෙන අතර, සිවිල් සහ දේශපාලන අයිතිවාසිකම් ආරක්ෂා කිරීමේ අවශ්‍යතාව එමගින් ඉස්මතු කරනු ලැබීය.

ආර්ථික, සමාජයීය සහ සංස්කෘතික අයිතිවාසිකම් යනුවෙන් හඳුන්වන සමූහය, දෙවන පරම්පරාවේ අයිතිවාසිකම් වේ. ඒවායේ වර්තමාන ස්වරූපයේ ඉතිහාසය යුරෝපයේ කාර්මික විප්ලවය දක්වා ආපස්සට දිවේ. වඩා දියුණු නිෂ්පාදන ක්‍රමත් සමගම ශීඝ්‍ර ආර්ථික වර්ධනයක් සිදුවුව ද, ඒ ප්‍රගතියේ ප්‍රතිලාභ ප්‍රභූ පන්තිය භුක්ති විඳින අතර, නිෂ්පාදන ක්‍රියාවලියට ශ්‍රමය සැපයූ අතිවිශාල ජනතාව පීඩා වින්ද බව වැඩිකල් යා නොදී දැකගත හැකි විය. සාධාරණ වැටුප්, වඩා හොඳ වැඩ කිරීමේ තත්ත්වයන්, සමාජ සුරක්ෂණය යනාදී වශයෙන් වූ ඉල්ලීම් සඳහා මේ තත්ත්වය ඉවහල් විය. මානව අයිතිවාසිකම් අර්ථයෙන් ආර්ථික අයිතිවාසිකම් ගැන අදහස් ඉදිරිපත් කළ ප්‍රථමයා දහනවවැනි ශත වර්ෂයේ කම්කරු පන්ති ව්‍යාපාරයයි. පසුකාලයක දී මේ අයිතිවාසිකම් වඩාත් විස්තාරණය කරනු ලැබීය. ආහාර ලබා ගැනීමට, සෞඛ්‍යයට, අධ්‍යාපනයට සහ සංස්කෘතික ජීවිතයකට සහභාගිවීමට ඇති අයිතිවාසිකම් වැනි වඩාත් පුළුල් වූ අයිතිවාසිකම් ආර්ථික, සමාජයීය සහ සංස්කෘතික අයිතිවාසිකම් පිළිබඳ ජාත්‍යන්තර ගිවිසුමට ඇතුළත් කර තිබේ.

ආර්ථික, සමාජයීය සහ සංස්කෘතික අයිතිවාසිකම්වලට වඩා සිවිල් සහ දේශපාලන අයිතිවාසිකම් වැදගත් වේ යැයි මඳ කලක් සලකනු ලැබීය. කෙසේ වුව ද, වර්ග දෙකේම අයිතිවාසිකම් එක සේ වැදගත් යැයි ද, සියලුම මානව අයිතිවාසිකම් සාර්වභෞමික, අභේද්‍ය සහ අන්තර් යැපීම් සහිත සහ අන්තර් සම්බන්ධතාවන් සහිත යැයි ද දැන් පුළුල් පිළිගැනීමක් තිබේ.

(i) ආර්ථික අයිතිවාසිකම් යන්නෙන් මෙම ලේඛකයා අදහස් කළේ කවර කරුණු ද?

..........................................................................................

..........................................................................................

..........................................................................................

..........................................................................................

(ii) පළමුවන හා දෙවන පරම්පරා යටතේ ඇතුළත් කළ හැකි අයිතිවාසිකම් වෙන වෙනම දක්වන්න.

..........................................................................................

..........................................................................................

..........................................................................................

..........................................................................................

(iii) ඇමෙරිකානු හා ප්‍රංශ විප්ලව මෙහි හේතුව ලෙස සලකතොත්, එයින් ඇති වූ ඵලය කුමක් විය හැකි ද?

..........................................................................................

..........................................................................................

..........................................................................................

..........................................................................................

(iv) සිවිල් හා දේශපාලන අයිතිවාසිකම්වලට අයත් අංශ මොනවා ද?

..........................................................................................

..........................................................................................

..........................................................................................

..........................................................................................

(v) "සාර්ව භෞමික, අභේද්‍ය සහ අන්තර් යැපීම් සහිත සහ අන්තර් සම්බන්ධතාවක් සහිත" යන යෙදුමෙහි අරුත් දක්වන්න.

..........................................................................................

..........................................................................................

..........................................................................................

..........................................................................................

*(ලකුණු 03 × 5 = 15 යි)*

37. පහත දැක්වෙන පාඨය කියවා එහි වචන සංඛ්‍යාවෙන් තුනෙන් එකක් පමණ වන සේ සාරාංශ කොට ලියා, යෝග්‍ය මාතෘකාවක් ද යොදන්න. ඔබ ලියූ වචන සංඛ්‍යාව සාරාංශය අවසානයේ සඳහන් කරන්න.

කලින් කලට, සමහර විට දැඩි කැළඹීම් සහගත, වෙනස් වීම් සිදු වුව ද ඕනෑම වකවානුවක සෑම ප්‍රජාවකටම සදාචාරය පිළිබඳ පුළුල් වූත්, තමන්ටම ආවේණික වූත් හැඟීමක් ඇත. "බටහිර රටවල සදාචාරය පරිහානියට පත්වෙමින් ඇතැයි" අප ප්‍රකාශ කරන අවස්ථාවක වුව ද, අපගේ අදහස් යොමු වී ඇත්තේ, අප විසින් අනුගමනය කරනු ලබන සදාචාර ප්‍රතිපත්තිවලට වඩා වෙනස් වුවත් අප විසින් අනුමත නොකරන්නේ වුවත්, ඒ රටවල පවතින සදාචාර ආකෘතිය කෙරෙහි ය.





ආගම හා සම්බන්ධයෙන් මෙන්ම නීතිය හා සදාචාරය අතර ද අතිච්ඡාදනයක් තිබේ. සදාචාරයට පටහැනි යැයි ජනතාවගේ බහුතරය විසින් සලකනු ලබන මිනීමැරුම සහ සොරකම ද නීති විරෝධී වේ. මේ ආකාරයට නීතිය හා සදාචාරය අතර කැපී පෙනෙන සම්බන්ධතාවක් ඇති අතර ඒවා එකිනෙක වෙළී පවතී. මේ දෙකම සමාජයේ සුමට ක්‍රියාකාරිත්වය සඳහා වූ චර්යා පද්ධති වේ. නීතියෙන් සහ සදාචාර ප්‍රතිපත්තිවලින් චර්යා පද්ධති නියම කෙරේ. පාර්ලිමේන්තුවෙන් සම්මත කර තිබීම සහ විනිශ්චයකරුවන්ගේ තීරණවල දක්නට ලැබීමට අමතරව සදාචාරාත්මක නිසා ද නීතිය අධිකාරියක් දරා සිටී. නීතිය සදාචාරයට අනුකූල නිසා නීති අනුගමනය කිරීමටත් ඒවා කඩ නොකිරීමටත් ජනතාව වගබලා ගනිති. මීට අමතරව කාටත් වරදක් නොකරන සේ, උදාහරණයක් වශයෙන් අඩන්තේට්ටම් නොකරන සේ යමෙකු දෙන අවවාදය සදාචාරය පදනම් කර පැවතුණත් නීතිය ද අදාළ ක්‍රියාව නීති විරෝධී බවට පත් කිරීමෙන් ඒ සදාචාර රීතිය ශක්තිමත් කරයි.

කෙසේ වුව ද, මෙසේ අතිච්ඡාදනය වන ක්ෂෙත්‍ර හැරුණු විට නීතිය සහ සදාචාරය වෙනස් ක්ෂේත්‍ර වසා සිටී. සදාචාරයට කිසිදු සම්බන්ධයක් නොමැති කාරණා පාලනය කිරීම නීතියෙන් බොහෝ විට සිදුවන අතරම නීතිය මැදිහත්වීම සදාචාරාත්මක යැයි පෙනී යන සමහර ක්ෂේත්‍රයන්ට නීතිය මැදිහත් නොවීමට ද වග බලා ගනී. මේ සඳහා බොහෝ විට දක්වන උදාහරණයක් නම්, දියේ ගිලෙමින් සිටින දරුවකු, තමාට සිදුවිය හැකි කිසිදු අවදානමකින් තොරව, බේරාගැනීමේ හැකියාව තිබියදීත් යම් තැනැත්තෙකු එසේ නොකර සිටීමයි. ජීවිතයක් පහසුවෙන් බේරා ගත හැකි අවස්ථාවක එසේ කරන සේ සදාචාරයෙන් බලකිරීමක් තිබෙන නිසා එවැනි ක්‍රියාවක් නොකර හැරීම සදාචාර විරෝධී යැයි බොහෝ දෙනකු සලකනු ඇත. නමුත් නීතියේ ඇසින් බලන කල ඒ දරුවා බේරා ගැනීම පැහැර හැරීම නෛතික වරදක් නොවේ. වෙනත් විදියකට කිවහොත් එය නීති විරෝධී පැහැර හැරීමක් නොවේ.

..........................................................................................................................................

..........................................................................................................................................

..........................................................................................................................................

..........................................................................................................................................

..........................................................................................................................................

..........................................................................................................................................

..........................................................................................................................................

..........................................................................................................................................

..........................................................................................................................................

..........................................................................................................................................

..........................................................................................................................................

..........................................................................................................................................

..........................................................................................................................................

..........................................................................................................................................

..........................................................................................................................................

..........................................................................................................................................

..........................................................................................................................................

..........................................................................................................................................

..........................................................................................................................................

..........................................................................................................................................

..........................................................................................................................................

..........................................................................................................................................

..........................................................................................................................................

..........................................................................................................................................

*(ලකුණු 25 යි)*

[ 7 වැනි පිටුව බලන්න.



38. පහත දැක්වෙන මාතෘකාවලින් එකක් තෝරාගෙන, වචන **300** ක් පමණ වන සේ විශ්ලේෂණාත්මක රචනයක් ලියන්න.

(i) ධනය හෝ බලය හෝ මගින් නීතියේ ස්වාධීනත්වය යටපත් කළ හැකි නොවේ.

(ii) සමාජයෙන් අපරාධ තුරන් කිරීම උදෙසා නීතිය පමණක් යොදා ගැනීමේ යෝග්‍යතාව

(iii) නවීකරණයට හසුවීම නිසා ශ්‍රී ලාංකේය සමාජයෙන් ගිලිහී යන සාරධර්ම හා සිරිත් විරිත්

(iv) ලෝකයේ බලවත් රාජ්‍යයන් සමග කුඩා රාජ්‍යයන් සන්ධානගත වීමේ යහපත හා අයහපත

[ 8 වැනි පිටුව බලන්න.

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

ශ්‍රී ලංකා නීති විද්‍යාලයේ 2016 අධ්‍යයන වර්ෂයට සිසුන් ඇතුළත්කර ගැනීම සඳහා
පවත්වනු ලබන තරග විභාගය - 2015 සැප්තැම්බර්

# (02) සාමාන්‍ය දැනීම හා බුද්ධි පරීක්ෂණය

පැ දෙකයි

## විභාග අපේක්ෂකයින්ට උපදෙස්

ඉතා වැදගත් :




* පිළිතුරු සැපයීමේ දී පහත සඳහන් ආකාරයට ඉලක්කම් ලියා නැති උත්තර පත්‍ර ඇගයීමට ලක් නොකෙරේ.

1 2 3 4

ඔබේ විභාග අංකය මෙහි ද තුන්වන හා පස්වන පිටුවල ඇති තිත් ඉරි මත ද ලියන්න.

.................................

නිවැරදි බවට නිරීක්ෂකගේ
කෙටි අත්සන

.................................

වැදගත් :

* මෙම ප්‍රශ්න පත්‍රය පිටු **12** කින් හා ප්‍රශ්න **100** කින් යුක්ත වේ.
* පිළිතුරු ලිවීමට පෙර ප්‍රශ්න පත්‍රය පිටු අංක අනුව සකසා ගන්න.
* ප්‍රශ්න සියල්ලට ම පිළිතුරු මෙම පත්‍රයේ ම සපයන්න.
* මෙම ප්‍රශ්න පත්‍රයට නියමිත කාලය පැය දෙකකි.
* ශාලාධිපතිවරයා නිවේදනය කළ පසු පිළිතුරු ලිවීම ආරම්භ කරන්න.
* දී ඇති උපදෙස් අනුව ම ප්‍රශ්නවලට පිළිතුරු සැපයිය යුතු වන අතර උපදෙස්වලට පටහැනිව සපයන පිළිතුරු සඳහා ලකුණු දෙනු නොලැබේ.
* ගණකයන්ත්‍ර භාවිතයට ඉඩදෙනු නොලැබේ.
* ඔබට සැපයීමට පිළිතුරු නැතත් මෙම පිළිතුරු පත ශාලාධිපතිට භාර දිය යුතුය.
* ඔබේ පිළිතුරු පැහැදිලි ලෙස නිල් හෝ කළු පෑනෙන් පමණක් ලියන්න. පැන්සල් පාවිච්චි නොකරන්න.
* මෙම ප්‍රශ්න පත්‍රය විභාග ශාලාවෙන් පිටතට ගෙන යාම හෝ එහි ඡායා පිටපත් ගැනීම හෝ වරදකි.
* අපැහැදිලි ඉලක්කම්, අපැහැදිලි අත් අකුරු සහිත, මකන දියර භාවිත කරන ලද සහ පැන්සලෙන් පිළිතුරු සපයන ලද පිළිතුරු පත්‍ර ඇගයීමට ලක් නොකෙරේ.

**පරීක්ෂකගේ ප්‍රයෝජනය සඳහා පමණි**

| පිටුව | ප්‍රශ්න අංකය | ලැබූ ලකුණු |
|---|---|---|
| 2 | 1 - 8 | |
| 3 | 9 - 19 | |
| 4 | 20 - 30 | |
| 5 | 31 - 43 | |
| 6 | 44 - 55 | |
| 7 | 56 - 62 | |
| 8 | 63 - 70 | |
| 9 | 71 - 76 | |
| 10 | 77 - 84 | |
| 11 | 85 - 91 | |
| 12 | 92 - 100 | |
| එකතුව | | |

අවසාන ලකුණු

| | |
|---|---|
| ඉලක්කමෙන් | |
| අකුරින් | |

| | |
|---|---|
| උත්තර පත්‍ර පරීක්ෂක | |
| ලකුණු පරීක්ෂා කළේ | |

[ 2 වැනි පිටුව බලන්න.

## I කොටස – සාමාන්‍ය දැනීම

- අංක 1 සිට 30 තෙක් එක් එක් ප්‍රශ්නයට නිවැරදි හෝ වඩාත්ම ගැළපෙන හෝ පිළිතුර තෝරා, ඊට අදාළ වරණයෙහි අංකය ප්‍රශ්නය ඉදිරියේ දී ඇති තිත් ඉර මත ලියන්න.

1. නීති සම්පාදනය, ක්‍රියාත්මක කිරීම හා අර්ථ නිරූපණය යන එක් එක් කාර්යය ඉටු කරනු ලබන ආයතනය නිවැරදි අනුපිළිවෙළින් දැක්වෙන්නේ පහත කවරක ද?
   (1) අධිකරණය, විධායකය, ව්‍යවස්ථාදායකය
   (2) ව්‍යවස්ථාදායකය, විධායකය, අධිකරණය
   (3) ව්‍යවස්ථාදායකය, අධිකරණය, විධායකය
   (4) විධායකය, ව්‍යවස්ථාදායකය, අධිකරණය (.........)

2. වර්ෂ 2014 ශ්‍රී ලංකා මහ බැංකු වාර්ෂික වාර්තාවේ ඇතුළත් මූලික සමාජ දර්ශක අතුරින්, වර්තමාන ශ්‍රී ලාංකිකයකුගේ ජීවිත ගුණාත්මකය (Quality of Life) සම්බන්ධයෙන් වන සාවද්‍ය සමාජ දර්ශකය මින් කුමක් ද?
   (1) සාක්ෂරතාව 92.5%
   (2) උපතේ දී ජීවිත අපේක්ෂාව 74.3
   (3) දිනකට ලබා ගන්නා සාමාන්‍ය කිලෝකැලරි ප්‍රමාණය 2111
   (4) සාමාන්‍ය මාසික ආදායම රුපියල් 30 814 (.........)

3. වර්ෂ 1978 ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට අනුව ශ්‍රේෂ්ඨාධිකරණයේ සංයුතිය පිළිබඳව නිවැරදි ප්‍රකාශය මින් කුමක් ද?
   (1) අග්‍රවිනිශ්චයකාරවරයාගෙන් ද හතරදෙනෙකුට නොඅඩු සහ නවදෙනෙකුට නොවැඩි වෙනත් විනිශ්චයකාරවරයන් සංඛ්‍යාවකගෙන් ද සමන්විත විය යුතු වේ.
   (2) අග්‍රවිනිශ්චයකාරවරයාගෙන් ද පස්දෙනෙකුට නොඅඩු සහ අටදෙනෙකුට නොවැඩි වෙනත් විනිශ්චයකාරවරයන් සංඛ්‍යාවකගෙන් ද සමන්විත විය යුතු වේ.
   (3) අග්‍රවිනිශ්චයකාරවරයාගෙන් ද හයදෙනෙකුට නොඅඩු සහ දසදෙනෙකුට නොවැඩි වෙනත් විනිශ්චයකාරවරයන් සංඛ්‍යාවකගෙන් ද සමන්විත විය යුතු වේ.
   (4) අග්‍රවිනිශ්චයකාරවරයාගෙන් ද හත්දෙනෙකුට නොඅඩු සහ දොළොස්දෙනෙකුට නොවැඩි වෙනත් විනිශ්චයකාරවරයන් සංඛ්‍යාවකගෙන් ද සමන්විත විය යුතු වේ. (.........)

4. වර්ෂ 1815 ඓතිහාසික උඩරට ගිවිසුම අත්සන් කරන ලද්දේ, කුමන බ්‍රිතාන්‍ය ආණ්ඩුකාරවරයාගේ පාලන සමය තුළ දී ද?
   (1) ශ්‍රීමත් තෝමස් මේට්ලන්ඩ් (2) ශ්‍රීමත් ෆෙඩ්රික් නෝර්ත්
   (3) ශ්‍රීමත් රොබට් බ්‍රවුන්රිග් (4) ශ්‍රීමත් එඩ්වර්ඩ් බාන්ස් (.........)

5. දෙමළ භාෂාව, ශ්‍රී ලංකාවේ රාජ්‍ය භාෂාවක් වශයෙන් පිළිගන්නා ලද්දේ කුමන වර්ෂයේ සිට ද?
   (1) 1956 (2) 1965 (3) 1978 (4) 1987 (.........)

6. ශ්‍රී ලංකාවේ පවතින වත්මන් නීතියට අනුව සාමදාන විනිශ්චයකාරවරයකු පත්කිරීමේ බලය පැවරී ඇත්තේ මින් කවරකුට ද?
   (1) නීතිපතිවරයා (2) අගවිනිසුරුවරයා
   (3) අධිකරණ ඇමතිවරයා (4) අගමැතිවරයා (.........)

7. ජන ලේඛන හා සංඛ්‍යාලේඛන දෙපාර්තමේන්තුව මගින් වර්ෂ 2012 දී පවත්වන ලද සංගණනයට අනුව, ශ්‍රී ලංකාවේ 100 000 කට වඩා අඩු ජන සංඛ්‍යාවක් වාසය කරන දිස්ත්‍රික්ක දෙක මොනවා ද?
   (1) මන්නාරම සහ මුලතිව් (2) කිලිනොච්චිය සහ වවුනියාව
   (3) මුලතිව් සහ ත්‍රිකුණාමලය (4) මන්නාරම සහ අම්පාර (.........)

8. "අත්අඩංගුවට ගන්නා ලද පුද්ගලයකු නියමිත කාල පරිච්ඡේදයකට වඩා බන්ධනාගාරයෙහි රඳවා තබා ගැනීමට හැකි වන්නේ අධිකරණයේ දී විනිශ්චයකරුවකු විසින් එය සාධාරණ යැයි තීරණය කළහොත් පමණි." නමැති නීතිය ප්‍රකාශ වන්නේ මින් පහත කුමන ආඥාවකින් ද?
   (1) සර්ටියෝරාරි (Certiorari) (2) හබයාස් කෝපුස් (Habeas Corpus)
   (3) මැන්ඩාමුස් (Mandamus) (4) ක්වෝ වොරොන්ටෝ (Quo-warranto) (.........)

9. වර්ෂ 2015 මැයි මාසයේ දී පාර්ලිමේන්තුව මගින් සම්මත කරන ලද ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ 19වෙනි සංශෝධනයට අනුව පිහිටුවනු ලබන ව්‍යවස්ථාදායක සභාවක මුළු සාමාජික සංඛ්‍යාව කීයක් විය යුතු ද?
(1) 8 (2) 10 (3) 12 (4) 15 (.........)

10. ශ්‍රී ලංකාවේ ප්‍රථම ව්‍යවස්ථාදායක සභාව පිහිටුවන ලද්දේ, බ්‍රිතාන්‍ය පාලන සමයේ දී මෙරට ක්‍රියාත්මක කරන ලද කුමන ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණ මගින් ද?
(1) කෝල්බෘක් (2) මැනිං (3) ඩොනමෝර් (4) සෝල්බරි (.........)

11. ශ්‍රී ලංකා ඉතිහාසයේ ඉතා වැදගත් වර්ෂ වැඩිම සංඛ්‍යාවක් ඇතුළත් වන්නේ පහත කවරක ද?
(1) 1505, 1796, 1815, 1848, 1931, 1948, 1956, 1972
(2) 1505, 1796, 1815, 1818, 1933, 1948, 1978, 1994
(3) 1505, 1796, 1802, 1818, 1848, 1948, 1972, 1994
(4) 1505, 1796, 1802, 1831, 1931, 1948, 1956, 1978 (.........)

12. ශ්‍රී ලංකාව තුළ අධිකරණ පද්ධතියෙන් බැහැරව ආරවුල් විසඳීම සඳහා ස්ථාපිත කොට ඇති ආයතනයක් නොවන්නේ මින් කුමක් ද?
(1) කම්කරු විනිශ්චය සභාව (2) මානව හිමිකම් කොමිසම
(3) සමථ මණ්ඩලය (4) නීති ආධාර කොමිසම (.........)

13. මධ්‍යකාලීන යුගයේ දී අරාබි වෙළෙඳුන් විසින් ශ්‍රී ලංකාව හැඳින් වූයේ කුමන නමකින් ද?
(1) තැප්‍රොබේන් (Taprobane) (2) සෙරෙන්ඩිබ් (Serendib)
(3) සෙයිලො (Ceilo) (4) සිමුන්ඩු (Simundu) (.........)

14. චූදිත සැකකරුවකු නිවැරදිව හඳුනා ගැනීමේ පෙරෙට්ටුවක් පවත්වනු ලබන්නේ මින් කවරකු විසින් ද?
(1) පොලිස් අධිකාරීවරයකු
(2) මහේස්ත්‍රාත්වරයකු
(3) මහාධිකරණ විනිසුරුවරයකු
(4) උපරිමාධිකරණ විනිසුරුවරයකු (.........)

15. "ස්වභාවධර්මය ජයගත යුතුය" යන දර්ශනය බිහිවූයේ මින් කුමන සංස්කෘතිය තුළින් ද?
(1) චීන (2) ඉස්ලාමීය
(3) ඉන්දියානු (4) යුරෝපීය (.........)

16. ලෝක ප්‍රජාව තුළ විප්ලවීය දේශපාලනික මතවාදයක් ඇති කිරීමට මුල්වූ ග්‍රන්ථය මින් කුමක් ද?
(1) ද රිපබ්ලික් (The Republic) (2) ද ප්‍රින්ස් (The Prince)
(3) දාස් කැපිටාල් (Das Kapital) (4) මීන් කැම්ප් (Mein Kampf) (.........)

17. මින් නොගැළපෙන යුගලය කුමක් ද?
(1) සල්මන් රුෂ්ඩි - නවකථාව (2) බර්ටෝල්ට් බ්‍රෙෂ්ට් - නාට්‍යය
(3) අමර්ත්‍යා සෙන් - සංගීතය (4) අකිරා කුරොසාවා - සිනමාව (.........)

18. ඉන්දියානු රාජ්‍ය බුද්ධි සේවය හඳුන්වනු ලබන කෙටි නම කුමක් ද?
(1) ISI (2) RAW (3) KGB (4) FBI (.........)

19. 'ඇසට ඇසක්' නමැති නීතිය අනුගමනය කළහොත් ලෝකයම අන්ධවනු ඇතැයි යන සුප්‍රසිද්ධ ප්‍රකාශය කරන ලද්දේ කවරකු විසින් ද?
(1) මහත්මා ගාන්ධි (2) නෙල්සන් මැන්ඩෙලා
(3) තෙරේසා මව්තුමිය (4) මාටින් ලූතර් කිං (.........)

[ 4 වැනි පිටුව බලන්න.

20. එක්සත් ජාතීන්ගේ සංවර්ධන වැඩපිළිවෙළ (UNDP) මගින් වර්ෂ 1990 දී ඉදිරිපත් කරන ලද මානව සංවර්ධන දර්ශකයට ඇතුළත් සංරචකයක් නොවන්නේ මින් කුමක් ද?
(1) ආයු අපේක්ෂණය (2) අධ්‍යාපනය
(3) දළ ජාතික ආදායම (4) ප්‍රජාතන්ත්‍රවාදය (.........)

21. සුව කළ නොහැකි ව්‍යාධියකින් පෙළෙන්නන්ට වේදනා මුක්ත මරණය (euthanasia) නීති ගත කොට ඇති රටවල් පමණක් ඇතුළත් වන්නේ පහත කවරක ද?
(1) ස්විට්සර්ලන්තය, බෙල්ජියම, නෙදර්ලන්තය, ලක්සම්බර්ග්
(2) ස්විට්සර්ලන්තය, බෙල්ජියම, නෙදර්ලන්තය, මහා බ්‍රිතාන්‍යය
(3) ස්විට්සර්ලන්තය, බෙල්ජියම, නෙදර්ලන්තය, ඉතාලිය
(4) ස්විට්සර්ලන්තය, බෙල්ජියම, නෙදර්ලන්තය, පෘතුගාලය (.........)

22. එක්සත්ජාතීන්ගේ සංවිධානය මගින් මානව අයිතිවාසිකම් පිළිබඳ විශ්ව ප්‍රකාශනය ප්‍රකාශයට පත්කරන ලද්දේ කුමන වර්ෂයේ දී ද?
(1) 1945 (2) 1946 (3) 1947 (4) 1948 (.........)

23. වර්ෂ 2016 දී ලෝක පාපන්දු තරගාවලිය පැවැත්වීමට යෝජිත රට කුමක් ද?
(1) කොළොම්බියාව (2) ජර්මනිය (3) ස්පාඤ්ඤය (4) ආර්ජන්ටිනාව (.........)

24. මහා බ්‍රිතාන්‍යයේ සුප්‍රසිද්ධ චිල්කොට් වාර්තාවට (Chilcot Report) පදනම් වී ඇත්තේ මින් කවරක් ද?
(1) ඉරාක යුද ආක්‍රමණය (2) මැදපෙරදිග රටවල සංක්‍රමණිකයන්
(3) පාර්ලිමේන්තු මන්ත්‍රී ආචාරධර්ම (4) ස්කොට්ලන්ත ජනමත විචාරණය (.........)

25. "ඩිජිටල් බෙදීම (Digital-Divide)" යනුවෙන් හඳුන්වනු ලබන්නේ මින් කවරක් ද?
(1) මෑතක දී දියුණු කරන ලද ගණිතමය සූත්‍රයකි.
(2) ඇමෙරිකා එක්සත් ජනපදය විසින් හඳුන්වා දෙන ලද නව තාක්ෂණික උපාංගයකි.
(3) තාක්ෂණික වශයෙන් දියුණු හා නොදියුණු රටවල් අතර බෙදීමකි.
(4) නව ජංගම දුරකථන වර්ගීකරණයකි. (.........)

26. මනුෂ්‍ය ශරීරයේ විශාලතම ඉන්ද්‍රිය කුමක් ද?
(1) අක්මාව (2) මොළය (3) පෙණහැල්ල (4) හෘදය (.........)

27. ලෝක ඉතිහාසයට අනුව යටත්විජිත යුගයේ දී ලෝකයේ වැඩිම රටවල් සංඛ්‍යාවක් ආක්‍රමණය කොට සිය අණසකට යටත් කොටගෙන සිටි රාජ්‍යය මින් කුමක් ද?
(1) පෘතුගාලය (2) ස්පාඤ්ඤය (3) මහා බ්‍රිතාන්‍යය (4) ප්‍රංශය (.........)

28. බ්‍රික්ස් (BRICS) නමැති සංවිධානයට අයත් රටවල් පහ නිවැරදිව දැක්වෙන්නේ පහත කවරක ද?
(1) බ්‍රසීලය, රුසියාව, ඉන්දියාව, චීනය, දකුණු අප්‍රිකාව
(2) බ්‍රසීලය, රුසියාව, ඉන්දියාව, චීනය, දකුණු කොරියාව
(3) බ්‍රසීලය, රුසියාව, ඉන්දුනීසියාව, චීනය, සෞදි අරාබිය
(4) බ්‍රසීලය, රුසියාව, ඉරානය, චීනය, දකුණු අප්‍රිකාව (.........)

29. ලෝක උරුම ස්ථාන නම් කරනු ලබන එක්සත් ජාතීන්ගේ සංවිධානයට අයත් නියෝජිතායතනය හඳුන්වනු ලබන කෙටි නම කුමක් ද?
(1) UNCHR (2) UNICEF (3) UNDP (4) UNESCO (.........)

30. සෞරග්‍රහ මණ්ඩලයේ නැගෙනහිර සිට බටහිරට භ්‍රමණය වන එකම ග්‍රහලෝකය කුමක් ද?
(1) සිකුරු (2) අඟහරු (3) සෙනසුරු (4) නෙප්චූන් (.........)

[ 5 වැනි පිටුව බලන්න.

● අංක 31 සිට 50 තෙක් එක් එක් ප්‍රශ්නයට නිවැරදි පිළිතුර, දී ඇති තිත් ඉර මත කෙටියෙන් ලියන්න.

31. සිව් වතාවක් මෙරට අග්‍රාමාත්‍ය ධූරයට පත්වූ ප්‍රථම ශ්‍රී ලාංකික දේශපාලනඥයා කවරෙක් ද?

..............................................................................................................................

32. ශ්‍රී ලංකාව තුළ නීතිඥ වෘත්තියෙහි නියැලීම සඳහා අනිවාර්යයෙන්ම ලියාපදිංචි විය යුත්තේ කුමන ආයතනයේ ද?

..............................................................................................................................

33. වර්ෂ 2015 අගෝස්තු මාසයේදී පවත්වන ලද රේ විජේවර්ධන අනුස්මරණ නිපැයුම් සම්මාන උළෙලේදී හොඳම නව නිපැයුම්කරු සඳහා වන සම්මානය හිමි කර ගන්නා ලද්දේ කවරෙකු විසින් ද?

..............................................................................................................................

34. වර්තමානයේ ශ්‍රී ලංකා පොලිස් දෙපාර්තමේන්තුව අයත් වන්නේ කුමන අමාත්‍යාංශයට ද?

..............................................................................................................................

35. ශ්‍රී ලංකාවට අයත් විශාලතම දූපත කුමක් ද?

..............................................................................................................................

36. වර්ෂ 2015 කෑන්ස් චිත්‍රපට උළෙලේ දී ඉහළම ගෞරව සම්මානයක් හිමිකර ගත්, ශ්‍රී ලාංකික දමිළ සරණාගතයන් තිදෙනෙකු පිළිබඳ කතාපුවතක් ඇතුළත් ප්‍රංශ චිත්‍රපටයේ නම කුමක් ද?

..............................................................................................................................

37. ලෝක සන්නිවේදන විප්ලවයක් ඇති කිරීමට මුල් වූ මෙරට විසූ අනාගතඥයා කවුද?

..............................................................................................................................

38. වර්තමාන ශ්‍රී ලංකා පාර්ලිමේන්තු රැස්වීමක සිටිය යුතු මන්ත්‍රී ගණපූරණය කීය ද?

..............................................................................................................................

39. අන්තිම කැමති පත්‍ර හා ඇටෝර්නි බලය පිළිබඳ ලේඛන භාරගැනීමට බලය ඇති රාජ්‍ය දෙපාර්තමේන්තුව කුමක් ද?

..............................................................................................................................

40. ශ්‍රී ලංකාවේ උතුරුමැද පළාතේ විශාල වශයෙන් පැතිරී ඇති දුස්සාධ්‍ය වකුගඩු රෝගයට ප්‍රධාන හේතුව වශයෙන් සලකනු ලබන්නේ කුමන කෘෂි රසායනය ද?

..............................................................................................................................

41. රෝම ඉලක්කම්වලින් නියෝජනය නොවන ඉලක්කම කුමක් ද?

..............................................................................................................................

42. ඇමෙරිකා එක්සත් ජනපදයේ ජාතික ආරක්ෂක නියෝජිතායතනය මගින් වර්ගීකරණය කොට තිබූ රහස්‍ය තොරතුරු ලෝකයට හෙළිදරව් කරන ලද පරිගණක වෘත්තිකයා කවරෙක් ද?

..............................................................................................................................

43. "බිලියන හතක් ස්වප්න, එක ග්‍රහයෙක්, අරපිරිමැස්මෙන් පරිභෝජනය කරන්න." යන තේමා පාඨය යටතේ මෙම වසරේ දී සමරන ලද ජාත්‍යන්තර දිනය කුමක් ද?

..............................................................................................................................

[ 6 වැනි පිටුව බලන්න.

44. සාම ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවක් ක්‍රියාත්මක වන ආසියාතික රට කුමක් ද?

.................................................................................................................................

45. යුක්රේන කැරලිකරුවන්ට යුදමය වශයෙන් ආධාර කරනු ලබන බවට පවතින විශ්වාසය මත ඇමෙරිකා එක්සත් ජනපදය හා යුරෝපා සංගමය මගින් මෑතක දී ආර්ථිකමය සම්බාධක පනවන ලද්දේ කුමන රටකට එරෙහිව ද?

.................................................................................................................................

46. ජාත්‍යන්තර දින රේඛාව පිහිටා ඇතැයි සලකනු ලබන්නේ කුමන සාගරය හරහා ද?

.................................................................................................................................

47. ලෝක අධිකරණ ව්‍යාපෘති දර්ශකයට අනුව වර්තමානයේ නීතියේ පරමාධිපත්‍යය අතින් ඉහළම ස්ථානයක් හිමිකරගෙන සිටින ආසියාතික රට කුමක් ද?

.................................................................................................................................

48. ලෝකයේ වැඩිම ජන සංඛ්‍යාවක් ජීවත් වන නගරය කුමක් ද?

.................................................................................................................................

49. ලෝකයේ සංවර්ධනය වන රටවල් සඳහා GSP වෙළෙඳ වාසි ලබාදෙනු ලබන කලාපීය සංවිධානය කුමක් ද?

.................................................................................................................................

50. එක්සත් ජාතීන්ගේ සංවිධානයේ මානව හිමිකම් පිළිබඳ වත්මන් මහකොමසාරිස්වරයා කවරෙක් ද?

.................................................................................................................................

## II කොටස – බුද්ධි පරීක්ෂණය

- අංක **51** සිට **55** තෙක් එක් එක් ප්‍රශ්නය යටතේ කිසියම් සම්බන්ධතාවක් සහිත පද ත්‍රිත්වයක් බැගින් දී ඇත. එම පද ත්‍රිත්වය අතර පවතින සම්බන්ධතාවට වඩාත්ම සමීප සම්බන්ධතාවක් පෙන්නුම් කරන පද ත්‍රිත්වය තෝරා, ඊට අදාළ වරණයෙහි අංකය ප්‍රශ්නය ඉදිරියේ දී ඇති තිත් ඉර මත ලියන්න.

51. ස්පර්ශය : ග්‍රහණය : මුදාහැරීම
   (1) වාඩිවීම : නින්ද : සිහිනය
   (2) අවලාදය : ක්‍රෝධය : කෝලාහලය
   (3) උදෑසන : රාත්‍රිය : දහවල
   (4) මදහස : සිනහව : හැඬීම (.........)

52. දඬුවම : විනෝදය : වේදනාව
   (1) මරණය : රෝගය : බිය
   (2) ක්‍රීඩාව : පුහුණුව : උද්‍යෝගය
   (3) සොරකම : ලාභය : පාඩුව
   (4) වර්ෂාව : ගංවතුර : නියගය (.........)

53. අත : සිරුර : ඇඟිල්ල
   (1) පන්දුව : පිත්ත : කණුකිල්ල
   (2) පත්‍රය : ශාකය : බීජය
   (3) පන්තිය : පාසල : ශිෂ්‍යයා
   (4) පැමිණිල්ල : සාක්ෂිය : තීන්දුව (.........)

54. තරගය : ජයග්‍රහණය : ප්‍රසිද්ධිය
   (1) ව්‍යායාමය : වීඩාව : විවේකය
   (2) වාෂ්පීකරණය : වලාකුළ : වැස්ස
   (3) ප්‍රදර්ශනය : නිර්මාණය : සම්මානය
   (4) කක්ෂය : පරිභ්‍රමණය : චලනය (.........)

55. පින්තූරය : ඔරලෝසුව : බිත්තිය
   (1) කොට්ටය : මෙට්ටය : ඇඳ
   (2) පෑන : පැන්සල : අභ්‍යාසය
   (3) පොලිසිය : උසාවිය : නීතිය
   (4) පරිච්ඡේදය : වාක්‍යය : අක්ෂරය (.........)

- අංක 56 සිට 60 තෙක් ප්‍රශ්න, *A, B, C, D* හා *E* නමැති මුදු පහක බර අතර පවතින සම්බන්ධතා කිහිපයක් විස්තර කෙරෙන **I, II, III, IV** හා **V** වශයෙන් වූ පහත දී ඇති ප්‍රකාශ පහ මත පදනම් වේ.

**I.** *A* මුද්දේ බර, *B* මුද්දේ බර මෙන් දෙගුණයකි.

**II.** *B* මුද්දේ බර, *C* මුද්දේ බර මෙන් හතරහමාර ගුණයකි.

**III.** *C* මුද්දේ බර, *D* මුද්දේ බර මෙන් හරි අඩකි.

**IV.** *D* මුද්දේ බර, *E* මුද්දේ බර මෙන් හරි අඩකි.

**V.** *E* මුද්දේ බර, *A* මුද්දේ බරට වඩා අඩු නමුත් *C* මුද්දේ බරට වඩා වැඩි වේ.

මෙම තොරතුරුවලට අනුව පහත එක් එක් ප්‍රශ්නයට නිවැරදි පිළිතුර තෝරා, ඊට අදාළ වරණයෙහි අංකය ප්‍රශ්නය ඉදිරියේ දී ඇති තිත් ඉර මත ලියන්න.

56. මෙම මුදු පහ අතුරින් වඩාත්ම බරින් වැඩි මුද්ද කුමක් ද?
(1) *A* (2) *B* (3) *C* (4) *D* (.........)

57. *E* මුද්දට වඩා බරින් අඩු මුදු දෙක මොනවා ද?
(1) *A* සහ *D* (2) *B* සහ *C* (3) *B* සහ *D* (4) *C* සහ *D* (.........)

58. බරින් වැඩිම මුද්දේ සිට බරින් අඩුම මුද්ද තෙක් ඉහළ සිට පහළට මෙම මුදු පහ පෙළ ගස්වනු ලැබුවහොත්, ඉහළ සිට සිව්වෙනුවට පිහිටන මුද්ද කුමක් ද?
(1) *B* (2) *C* (3) *D* (4) *E* (.........)

59. බර වැඩිවන අනුපිළිවෙළට මෙම මුදු පහ පෙළ ගස්වා ගැනීම සඳහා දී ඇති ප්‍රකාශ අතුරින් අත්‍යවශ්‍ය නොවන ප්‍රකාශය කුමක් ද?
(1) **I** (2) **III** (3) **IV** (4) **V** (.........)

60. පහත ප්‍රකාශ අතුරින් අනිවාර්යයෙන් ම සත්‍ය වන ප්‍රකාශය කුමක් ද?
(1) *B* මුද්දෙහි බර, *D* මුද්දෙහි බරට වඩා අඩු වේ.
(2) *C* මුද්දෙහි බර, *E* මුද්දෙහි බරට වඩා අඩු වේ.
(3) *D* මුද්දෙහි බර, *C* මුද්දෙහි බරට වඩා අඩු වේ.
(4) *E* මුද්දෙහි බර, *D* මුද්දෙහි බරට වඩා අඩු වේ. (.........)

- අංක 61 සිට 65 තෙක් එක් එක් ප්‍රශ්නය යටතේ **I, II** හා **III** වශයෙන් වූ ප්‍රකාශ තුනක් හා ඒවා අතර පැවතිය හැකි යැයි අපේක්ෂිත සම්බන්ධතා විස්තර කෙරෙන පිළිතුරු වරණ හතරක් බැගින් දී ඇත. ඒවා අතුරින් එම ප්‍රකාශ තුන අතර පවතින සම්බන්ධතාවක් වඩාත් නිවැරදිව විස්තර කෙරෙන පිළිතුර තෝරා, ඊට අදාළ වරණයෙහි අංකය ප්‍රශ්නය ඉදිරියේ දී ඇති තිත් ඉර මත ලියන්න.

61. ප්‍රකාශය **I** : උත්පලා, දැන් වයස අවුරුදු 40 ඉක්මවූ නීතිඥවරියකි.
**II** : දිනිඳු විවාහ වී සිටින්නේ දැනට වයස අවුරුදු 40 ඉක්මවූ නීතිඥවරියක් සමග ය.
**III** : උත්පලාට වයස අවුරුදු 40 ක් වූයේ, ඇය දිනිඳු හා විවාහ වී අවුරුදු 15 ක් ඉක්මගිය පසුව ය.
(1) **I** සත්‍ය වන විට, **II** ආධාරයෙන් **III** සත්‍ය බව සනාථ කළ හැකි වේ.
(2) **I** සත්‍ය වන විට, **III** ආධාරයෙන් **II** සත්‍ය බව සනාථ කළ හැකි වේ.
(3) **II** සත්‍ය වන විට, **I** ආධාරයෙන් **III** සත්‍ය බව සනාථ කළ හැකි වේ.
(4) **II** සත්‍ය වන විට, **I** ආධාරයෙන් **III** අසත්‍ය බව සනාථ කළ හැකි වේ. (.........)

62. ප්‍රකාශය **I** : නීති අධ්‍යාපන ආයතනයේ ඉගෙනුම ලබන සෑම ශිෂ්‍යයෙක් ම අවම වශයෙන් කම්කරු නීතිය හෝ ගිවිසුම් නීතිය යන කවර හෝ පාඨමාලාවක් හදාරයි.
**II** : නීති අධ්‍යාපන ආයතනයේ ඉගෙනුම ලබන ශිෂ්‍යයන්ගෙන් 75%ක් ගිවිසුම් නීතිය පාඨමාලාව හදාරයි.
**III** : නීති අධ්‍යාපන ආයතනයේ ඉගෙනුම ලබන ශිෂ්‍යයන්ගෙන් 50%ක් කම්කරු නීතිය පාඨමාලාව හදාරයි.
(1) **I, II** හා **III** යන තුනම එකවිට සත්‍ය විය හැකි වේ.
(2) **I** සත්‍ය වන්නේ නම්, **II** සත්‍ය වන විට **III** අසත්‍ය වේ.
(3) **I** සත්‍ය වන්නේ නම්, අනිවාර්යයෙන් ම **II** හා **III** අසත්‍ය වේ.
(4) **I** සත්‍ය හෝ අසත්‍ය හෝ වුව ද, **II** සත්‍ය නම් **III** ද සත්‍ය විය යුතු වේ. (.........)

[ 8 වැනි පිටුව බලන්න.

63. ප්‍රකාශය I : ජංගම ගිණුම් හිමි සියල්ලන්ම ඉතිරි කිරීමේ ගිණුම් හිමියෝ වෙති.
II : සචිනිට ජංගම ගිණුමක් පමණක් තිබේ.
III : අසේලට ඇත්තේ ඉතිරි කිරීමේ ගිණුමක් පමණි.
(1) I සත්‍ය වන විට, II සත්‍ය හා III අසත්‍ය වේ.
(2) I සත්‍ය වන විට, II අසත්‍ය හා III සත්‍ය වේ.
(3) I සත්‍ය වන විට, II හා III එකවිට සත්‍ය වේ.
(4) I සත්‍ය වන විට, II හා III එකවිට අසත්‍ය වේ. (.........)

64. ප්‍රකාශය I : ප්‍රතාපසිංහ මහතා විසින් නීතියේ මූලිකාංග පිළිබඳව පොත් ගණනාවක් රචනා කොට ඇත.
II : "පරිපාලන නීතියේ මූලිකාංග" නමැති ග්‍රන්ථය ප්‍රතාපසිංහ මහතා විසින් රචනා කරන ලද්දකි.
III : ප්‍රතාපසිංහ මහතා රචනා කොට ඇත්තේ නීතියේ ඓතිහාසික විකාශය පිළිබඳ පොත් පමණි.
(1) I සත්‍ය වන්නේ නම්, II සත්‍ය විය නොහැකි ය.
(2) I හා II සත්‍ය වන්නේ නම්, III ද සත්‍ය විය යුතු වේ.
(3) III සත්‍ය විය හැක්කේ, I අසත්‍ය වන්නේ නම් පමණි.
(4) I, II හා III යන තුනම එකවිට සත්‍ය විය හැකි ය. (.........)

65. ප්‍රකාශය I : චේතනා උපන්නේ සෙනසුරාදා දිනයක දී ය.
II : පසුගිය වසරේ චේතනාගේ උපන් දිනය යෙදුණේ සෙනසුරාදා දිනයක දී ය.
III : ලබන වසරේ චේතනාගේ උපන් දිනය යෙදෙන්නේ සෙනසුරාදා දිනයක දී නොවේ.
(1) I සත්‍ය වන්නේ නම්, II හා III ද සත්‍ය විය යුතු වේ.
(2) I අසත්‍ය වන්නේ නම්, II හා III ද අසත්‍ය විය යුතු වේ.
(3) I අසත්‍ය වන්නේ නම්, III සත්‍ය විය නොහැකි ය.
(4) I සත්‍ය හෝ අසත්‍ය හෝ වුව ද II සත්‍ය නම් III ද සත්‍ය විය යුතු වේ. (.........)

- අංක 66 සිට 70 තෙක් එක් එක් ප්‍රශ්නයට නිවැරදි පිළිතුර තෝරා, ඊට අදාළ වරණයෙහි අංකය ප්‍රශ්නය ඉදිරියේ දී ඇති තිත් ඉර මත ලියන්න.

66. සතියේ සෑම දිනකම $P$ දුම්රිය ස්ථානයේ සිට සෑම පැය දෙකහමාරකට ම වරක් $Q$ දුම්රිය ස්ථානය කරා දුම්රියක් පිටත් වේ. එක්තරා අවස්ථාවක දී $Q$ දුම්රිය ස්ථානය කරා යන දුම්රිය, ඊට මිනිත්තු 40 කට පෙර ගමන් ඇරඹූ බවත්, ඊළඟ දුම්රිය පැය 1800 ට පිටත් වන බවත්, $P$ දුම්රිය ස්ථානයෙන් නිවේදනය කෙරිණි. එසේනම්, එම නිවේදනය නිකුත් කළ අවස්ථාවේ වේලාව විය හැක්කේ කීය ද?
(1) පැය 1600 (2) පැය 1610 (3) පැය 1620 (4) පැය 1640 (.........)

67. සිසුවියන් පේළියක වම් කෙළවරේ සිට නව වැන්නා දීප්ති වේ. එම පේළියේම දකුණු කෙළවරේ සිට දහතුන්වැන්නා කමනී වේ. අනතුරුව ඔවුන් දෙදෙනා තම තමන් සිටින ස්ථාන එකිනෙක මාරු කර ගත් අතර එවිට දීප්තිගේ ස්ථානය වම් කෙළවරේ සිට දහහත්වැන්නා ලෙස වෙනස් විය. එසේනම්, එම ස්ථාන මාරුවෙන් පසු කමනී සිටින්නේ පේළියේ දකුණු කෙළවරේ සිට කී වැන්නා ලෙස ද?
(1) 21 (2) 23 (3) 26 (4) 29 (.........)

68. පියුමි හා චමෝදි එකම සේවා ස්ථානයේ එකම දිනයකදී තනතුරු දෙකක පත්වීම් ලැබූ යෙහෙළියන් දෙදෙනෙකි. ඔවුන්ගෙන් පියුමිගේ වැටුප සෑම වසරකට ම වරක් රුපියල් 250 ක් බැගින් වැඩි වන අතර චමෝදිගේ වැටුප සෑම වසරකට ම වරක් රුපියල් 200 ක් බැගින් වැඩි වේ. ඔවුන් දෙදෙනාගේ වැටුප් වසර පහක දී එකම මට්ටමකට එළැඹුණේ නම්, ඔවුන් අතර වැටුප් පරතරය රුපියල් 100 ක් වන්නට ඇත්තේ පත්වීම් ලබා වසර කීයක දී ද?
(1) 5 (2) 4 (3) 3 (4) 2 (.........)

69. කිලෝමීටර 210 ක ගමනක් යන මෝටර් රථයකට එහි වේගය පැයට කිලෝමීටර 5 කින් වැඩි කළහොත් මුළු ගමන පැයකට කලින් නිම කළ හැකි වේ. එසේනම්, රථයේ මුල් වේගය පැයට කිලෝමීටර කීයද?
(1) 20 (2) 25 (3) 30 (4) 35 (.........)

70. කුරුලු රංචුවක් ගස් දෙකක අතු මත වසා සිටින්නේ, එම ගස් දෙක අතුරින් ඕනෑම ගසක සිටින ඕනෑම කුරුල්ලෙකු එම ගසෙහිම සිටින වෙනත් ඕනෑම කුරුල්ලෙකුට සම දුරින් සිටින පරිදි වේ. ගස් දෙකෙහිම මෙම රංචුවට අයත් කුරුල්ලන් පමණක් සිටිත් නම්, එම රංචුවට අයත් විය හැකි උපරිම කුරුල්ලන් සංඛ්‍යාව කීය ද?
(1) 4 (2) 6 (3) 8 (4) 10 (.........)

[ 9 වැනි පිටුව බලන්න.

● අංක **71** සිට **75** තෙක් ප්‍රශ්න, එක්තරා මහල් නිවාසයක පදිංචිව සිටින වෘත්තිකයන් අටදෙනෙක් සම්බන්ධයෙන් වන තොරතුරු මත පදනම් වේ.

✤ බිම් මහල, පළමු මහල හා දෙවන මහල වශයෙන් වූ මහල් තුනකින් සමන්විත මහල් නිවාසයක, එක් එක් මහලෙහි යටත් පිරිසෙයින් නිවාස තුනක් හෝ හයකට නොවැඩි ගණනක් හෝ වන පරිදි නිවාස දහතුනක් පිහිටා තිබේ.

✤ ඒවා අතුරින් නිවාස පහක කිසිවෙකුත් පදිංචිව නොසිටින අතර ඉතිරි නිවාස අටෙහි එක් නිවසක එක් වෘත්තිකයකු බැගින් වන සේ නීතිඥයන් දෙදෙනෙකු, ඉංජිනේරුවන් දෙදෙනෙකු, ගණකාධිකාරිවරුන් තිදෙනෙකු හා එක් වෛද්‍යවරයෙකු පහත දැක්වෙන පරිදි පදිංචිව සිටිති.

* දෙවන මහලෙහි පිහිටා ඇති නිවාස හතර අතුරින් එකක නීතිඥයෙක් පදිංචිව සිටින අතර, එම නීතිඥයා සමඟ එම මහලේ පදිංචිව සිටින්නේ තවත් එක් වෘත්තිකයකු පමණි.
* නීතිඥයන් දෙදෙනා පදිංචිව සිටින්නේ එකිනෙකට යාබදව ඇති මහල් දෙකක පිහිටි නිවාස දෙකක වේ.
* වෛද්‍යවරයා පදිංචි නිවස ඇති මහලේ පිහිටි වෙනත් කිසිම නිවසක නීතිඥයෙක් පදිංචිව නොමැත.
* කිසිදු මහලක පිහිටි නිවාස දෙකක එකම වෘත්තිකයන් දෙදෙනෙක් පදිංචිව නොසිටිති.
* පළමු මහලෙහි පිහිටි සෑම නිවසකම කිසියම් වෘත්තිකයකු බැගින් පදිංචිව සිටිති.

මෙම තොරතුරුවලට අනුව පහත එක් එක් ප්‍රශ්නයට නිවැරදි පිළිතුර තෝරා, ඊට අදාළ වරණයෙහි අංකය ප්‍රශ්නය ඉදිරියේ දී ඇති තිත් ඉර මත ලියන්න.

71. පළමු මහලෙහි පිහිටි නිවාස සංඛ්‍යාව කීය ද?
(1) 3 (2) 4 (3) 5 (4) 6 (.........)

72. බිම් මහලෙහි වෘත්තිකයන් පදිංචිව නොමැති නිවාස කීයක් තිබේ ද?
(1) 1 (2) 2 (3) 3 (4) 4 (.........)

73. බිම් මහලෙහි පදිංචි වෘත්තිකයන් කවරහු ද?
(1) නීතිඥ හා ඉංජිනේරු (2) නීතිඥ හා ගණකාධිකාරි
(3) නීතිඥ, ගණකාධිකාරි හා ඉංජිනේරු (4) වෛද්‍ය, ගණකාධිකාරි හා ඉංජිනේරු (.........)

74. පළමු මහලෙහි පදිංචිව නොසිටින වෘත්තිකයා කවරෙක් ද?
(1) ගණකාධිකාරි (2) වෛද්‍ය (3) ඉංජිනේරු (4) නීතිඥ (.........)

75. එකිනෙකට යාබදව පිහිටි මහල් දෙකක පමණක් පදිංචිව සිටින වෘත්තිකයන් කවරහු ද?
(1) නීතිඥ හා ගණකාධිකාරි (2) නීතිඥ හා ඉංජිනේරු
(3) නීතිඥ හා වෛද්‍ය (4) ගණකාධිකාරි හා ඉංජිනේරු (.........)

● අංක **76** සිට **80** තෙක් ප්‍රශ්න, කුලක ත්‍රිත්වයක අඩංගු කුලක එකිනෙක අතර පවතින සම්බන්ධතාව නිරූපණය කළහැකි ආකාර දැක්වෙන පහත රූප සටහන් පහ හා ඒ සම්බන්ධයෙන් වන තොරතුරු මත පදනම් වේ.



* පහත එක් එක් ප්‍රශ්නය යටතේ කුලක ත්‍රිත්ව හතරක් බැගින් දී ඇත.
* ඒවා අතුරින් කුලක ත්‍රිත්ව තුනක් පමණක් මෙහි දක්වා ඇති රූප සටහන් තුනකින් නිරූපණය කළ හැකි වේ.

මේ ආකාරයට මෙහි දැක්වෙන කිසිදු රූප සටහනකින් නිරූපණය කළ නොහැකි ඉතිරි කුලක ත්‍රිත්වය තෝරා, ඊට අදාළ වරණයෙහි අංකය ප්‍රශ්නය ඉදිරියේ දී ඇති තිත් ඉර මත ලියන්න.

76. (1) පරිච්ඡේදය, ඡේදය, වාක්‍යය (2) රෝහල, හෙද නිලධාරි, වෛද්‍යවරයා
(3) වර්තමානය, අතීතය, අනාගතය (4) නීතිඥයා, ලේඛකයා, ගායකයා (.........)

[ 10 වැනි පිටුව බලන්න.

77. (1) අවුරුද්ද, මාසය, සතිය
(2) පූර්ණ සංඛ්‍යා, ඔත්තේ සංඛ්‍යා, හතරැස් සංඛ්‍යා
(3) ඇඳුම්, සාරි, කලිසම්
(4) බහුඅස්‍ර, ත්‍රිකෝණ, වෘත්ත (.........)

78. (1) බීජය, ඵලය, ශාකය
(2) පාර්ලිමේන්තුව, වේත්‍රධාරී, කතානායක
(3) මහාධිකරණය, අභියාචනාධිකරණය, ශ්‍රේෂ්ඨාධිකරණය
(4) නවකතා පොත්, කෙටිකතා පොත්, ඉංග්‍රීසි මාධ්‍ය පොත් (.........)

79. (1) ගෘහභාණ්ඩ, ලිපිද්‍රව්‍ය, කෘෂි උපකරණ
(2) ශාක භක්ෂකයින්, භෞමික ජීවීන්, ක්ෂීරපායින්
(3) සිවිල් නීතිය, දේපළ නීතිය, අපරාධ නීතිය
(4) චතුරස්‍රය, සමාන්තරාස්‍රය, රොම්බසය (.........)

80. (1) ඇමතිවරුන්, මන්ත්‍රීවරුන්, දේශපාලනඥයන්
(2) ගොඩබිම, වනාන්තර, කාන්තාර
(3) විනිසුරු, දිසා විනිසුරු, සාමවිනිසුරු
(4) ආහාර, කාබෝහයිඩ්‍රේට් අඩංගු ආහාර, ප්‍රෝටීන් අඩංගු ආහාර (.........)

- අංක **81** සිට **85** තෙක් එක් එක් ප්‍රශ්නය යටතේ තල දර්පනයක් ඉදිරියේ තබන ලද රූප කට්ටලයක් බැගින් දී ඇත. ඒ ඒ රූප කට්ටලය දෙස තල දර්පනය තුළින් බැලූවිට දැකිය හැකි එහි නිවැරදි ප්‍රතිබිම්බය තෝරා, ඊට අදාළ වරණයෙහි **අංකය** ප්‍රශ්නය ඉදිරියේ දී ඇති තිත් ඉර මත ලියන්න.

81.

(1) (2) (3) (4) (.........)

82.

(1) (2) (3) (4) (.........)

83.

(1) (2) (3) (4) (.........)

84.

(1) (2) (3) (4) (.........)

85.




(.........)

● අංක **86** සිට **90** තෙක් ප්‍රශ්න, කේන්ද්‍රයට සමාන දුරින් පිහිටි කොටස් අටකින් සෑදුම්ලත් වෘත්තාකාර පථ හතරක් සහිත වෘත්ත ජාලයක් තුළ ඉලක්කම් යොදා ඇති ආකාරය දැක්වෙන පහත රූපසටහන හා ඒ සම්බන්ධයෙන් වන තොරතුරු මත පදනම් වේ.




* මෙම වෘත්ත ජාලයේ සෑම වෘත්තාකාර පථයක් තුළම 1 සිට 9 තෙක් වූ ඉලක්කම් අතුරින් කවර හෝ ඉලක්කම් අටක් පමණක් යෙදේ.

* එහිදී කිසියම් වෘත්තාකාර පථයක නොමැති ඉලක්කම ඊට යාබද වෘත්තාකාර පථයක් තුළ අනිවාර්යයෙන්ම තිබිය යුතු වේ.

* එමෙන්ම මෙහි එක් කේන්ද්‍රික ඛණ්ඩයකට කොටස් හතරක් බැගින් අයත් වන පරිදි වූ කේන්ද්‍රික ඛණ්ඩ අටක් ද තිබේ.

* එම එක් කේන්ද්‍රික ඛණ්ඩයක් තුළ ද එකම ඉලක්කම එක් වරකට වඩා යෙදිය නොහැකිය.

* මෙම කොන්දේසිවලට අනුකූලවන සේ ***A, B, C, D, E*** හා ***F*** යන ඉංග්‍රීසි අක්ෂරවලින් දක්වා ඇති ස්ථානවලට ද ඒ ඒ ස්ථානයට අදාළ කිසියම් ඉලක්කමක් බැගින් යෙදේ.

මෙම තොරතුරුවලට අනුව පහත එක් එක් ප්‍රශ්නයට නිවැරදි පිළිතුර සොයා, එම පිළිතුර ප්‍රශ්නය ඉදිරියේ දී ඇති තිත් ඉර මත ඉලක්කමෙන් පමණක් ලියන්න.

86. ***A*** අක්ෂරය සහිත ස්ථානයට යෙදෙන ඉලක්කම කුමක් ද? (.........)

87. ***B*** අක්ෂරය සහිත ස්ථානයට යෙදෙන ඉලක්කම කුමක් ද? (.........)

88. ***C*** අක්ෂරය සහිත ස්ථානයට යෙදෙන ඉලක්කම කුමක් ද? (.........)

89. ***D*** අක්ෂරය සහිත ස්ථානයට යෙදෙන ඉලක්කම කුමක් ද? (.........)

90. ***F*** අක්ෂරය පිහිටන පථයෙහි 6 ඉලක්කම නොයෙදේ නම්, ***E*** අක්ෂරය සහිත ස්ථානයට යෙදෙන ඉලක්කම කුමක් ද? (.........)

● අංක **91** සිට **95** තෙක් එක් එක් ප්‍රශ්නය යටතේ කිසියම් ගැටලුවක් සහ **I** හා **II** වශයෙන් වූ ප්‍රකාශ දෙකක් බැගින් දී ඇත. එම ප්‍රකාශ දෙක අතුරින්,

* **I** ප්‍රකාශය පමණක් යොදාගෙන ගැටලුව විසඳිය හැකි වන්නේ නම් අංක **1** ද

* **II** ප්‍රකාශය පමණක් යොදාගෙන ගැටලුව විසඳිය හැකි වන්නේ නම් අංක **2** ද

* **I** හා **II** යන ප්‍රකාශ දෙකම එකට යොදාගෙන ගැටලුව විසඳිය හැකි වන්නේ නම් අංක **3** ද

* **I** හා **II** යන ප්‍රකාශ දෙකම වෙනවෙනම යොදාගෙන ගැටලුව විසඳිය හැකි වන්නේ නම් අංක **4** ද

* **I** හෝ **II** යන කිසිදු ප්‍රකාශයක් යොදාගෙන ගැටලුව විසඳිය හැකි නොවන්නේ නම් අංක **5** ද

එක් එක් ප්‍රශ්නය ඉදිරියේ දී ඇති තිත් ඉර මත ලියන්න.

91. ගැටලුව : තාරක, මාලක, දේවක හා සේනක නමැති සිසුන් හතරදෙනා අතර සිටින බරින් වැඩිම සිසුවාගේ බර කිලෝග්‍රෑම් 40 කි. එසේනම්, ඔවුන් අතර සිටින බරින් අඩුම සිසුවාගේ බර කිලෝග්‍රෑම් කීයද?

ප්‍රකාශය : **I.** මාලකගේ හා සේනකගේ බරෙහි එකතුව, දේවකගේ බරට වඩා කිලෝග්‍රෑම් 20 ක් වැඩි ය.

**II.** සේනකගේ හා දේවකගේ බරෙහි එකතුව, තාරකගේ බරට වඩා කිලෝග්‍රෑම් 20 ක් වැඩි ය.(.........)

[ 12 වැනි පිටුව බලන්න.

92. ගැටලුව : එක්තරා භාජනයක බහා ඇති නිල්, රතු හා කොළ පැහැති බොත්තම් අතුරින් 150 ක් රතු පැහැති වේ. එම භාජනයේ බහා ඇති මුළු බොත්තම් සංඛ්‍යාව කීය ද?

ප්‍රකාශය : **I.** භාජනයේ බහා ඇති බොත්තම් අතුරින් 50% ක් නිල් පැහැති වේ.

**II.** භාජනයේ බහා ඇති බොත්තම් අතුරින් 350 ක් කොළ පැහැති වේ. (.........)

93. ගැටලුව : එක්තරා මැරතන් ධාවන තරගයකට සහභාගිවූ ක්‍රීඩකයන්ගෙන් සමහරෙක් අතරමගදී නතරවූ අතර තවත් සමහරෙක් තරගය අවසන් කළහ. එම මැරතන් ධාවන තරගයට සහභාගිවූ මුළු ක්‍රීඩකයන් සංඛ්‍යාව කීය ද?

ප්‍රකාශය : **I.** තරගයට සහභාගිවූ ක්‍රීඩකයන්ගෙන් 30 දෙනෙක් අතරමගදී නතර වුණි.

**II.** තවත් ක්‍රීඩකයන් 45 දෙනෙක් තරගය අවසන් කළේ නම්, තරගය අවසන් කළ ක්‍රීඩකයන් සංඛ්‍යාව 50% කින් වැඩිවනු ඇත. (.........)

94. ගැටලුව : පසුගිය වසරේ මහා සභා රැස්වීමට සහභාගිවූ මුළු සංඛ්‍යාව 5600 කි. එම පිරිස අතර සිටි කාන්තාවන් සංඛ්‍යාව කීය ද?

ප්‍රකාශය : **I.** රැස්වීමට සහභාගිවූ පිරිමි සංඛ්‍යාව, ඊට සහභාගිවූ කාන්තාවන් සංඛ්‍යාවට වඩා 2800 කින් වැඩි ය.

**II.** රැස්වීමට සහභාගිවූ පිරිමි සංඛ්‍යාව, ඊට සහභාගිවූ කාන්තාවන් සංඛ්‍යාව මෙන් තුන් ගුණයකි.(.........)

95. ගැටලුව : *P* හා *Q* දෙදෙනාට එක්ව පැය අටකදී පිටු 100 ක වාර්තාවක් සම්පූර්ණයෙන් යතුරු ලියනය කළ හැකි ය. *P* පමණක් තනිවම යතුරු ලියනය කළේ නම්, ඒ සඳහා ගතවන කාලය පැය කීයද?

ප්‍රකාශය : **I.** *Q* පමණක් තනිවම පිටු 100 වාර්තාව යතුරු ලියනය කළේ නම්, ඒ සඳහා පැය 12 ක් ගත වේ.

**II.** *P* හා *Q* දෙදෙනා එක්ව පිටු 200 ක වාර්තාවක් යතුරු ලියනය කළේ නම්, ඒ සඳහා පැය 16 ක් ගත වේ. (.........)

- **අංක 96 සිට 100 තෙක් එක් එක් ප්‍රශ්නයට නිවැරදි පිළිතුර සොයා, එම පිළිතුර ප්‍රශ්නය ඉදිරියේ දී ඇති තිත් ඉර මත ඉලක්කමෙන් පමණක් ලියන්න.**

96. 1 සිට 100 තෙක් ඇති සියලුම සංඛ්‍යා ලියනු ලැබුවහොත්, එහිදී 3 ඉලක්කම ලියැවෙන වාර සංඛ්‍යාව කීය ද? (.........)

97. *A* නගරයෙන් පිටත් වූ බසයක සිටි පිරිමි සංඛ්‍යාව, එම අවස්ථාවේ බසයේ සිටි ගැහැනු සංඛ්‍යාව මෙන් දෙගුණයක් විය. *B* නගරයේදී එම බසයෙන් පිරිමි 10 දෙනෙක් බැසගිය අතර තවත් ගැහැනු 5 දෙනෙක් එම බසයට ගොඩවූහ. එවිට බසය තුළ සිටින පිරිමි සංඛ්‍යාව හා ගැහැනු සංඛ්‍යාව එකිනෙකට සමාන විය. එසේනම්, *A* නගරයෙන් පිටත්වන අවස්ථාවේ දී බසය තුළ සිටි මුළු ගැහැනු හා පිරිමි සංඛ්‍යාව කීයද? (.........)

98. චාමර අතැති මුදලින් ගෙවීමට හැකි වන්නේ ඔහුට ගෙවීමට නියමිත මුදලින් 75% ක් පමණි. තවත් රුපියල් 8 ක් තිබිණි නම්, ඔහුට නියමිත මුදලින් 80% ක් ගෙවීමට හැකිවනු ඇත. එසේනම්, චාමර අතැති මුදල රුපියල් කීයද? (.........)

99. අඹ ගෙඩි 3 ක්, පේර ගෙඩි 5 ක් හා දිවුල් ගෙඩි 4 ක් මිලදී ගැනීමට රුපියල් 590 ක් වැය වේ. අඹ ගෙඩි 3 ක්, පේර ගෙඩි 1 ක් හා දිවුල් ගෙඩි 2 ක් මිලදී ගැනීමට රුපියල් 310 ක් වැය වේ. එසේනම්, අඹ ගෙඩි 2 ක්, පේර ගෙඩි 2 ක් හා දිවුල් ගෙඩි 2 ක් මිලදී ගැනීමට වැය වන මුදල රුපියල් කීයද? (.........)

100. එක්තරා රියැදුරෙක් *A* නගරයේ සිට *B* නගරයට යෑමට ඇති මාර්ග හතරක් දනී. එමෙන්ම *B* නගරයේ සිට *C* නගරයට යෑමට ඇති මාර්ග තුනක් දනී. තව ද *C* නගරයේ සිට *D* නගරයට යෑමට ඇති මාර්ග දෙකක් දනී. එසේනම්, එම රියැදුරා *A* නගරයේ සිට *D* නගරයට යෑමට ඇති එකිනෙකට වෙනස් මාර්ග කීයක් දන්නේ ද? (.........)

***